# දස බුදුනු ගුණ

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක ස්වාමීන්‍ද්‍රයන් වහන්සේ

සියලු බෞද්ධයන් තුළ තිබිය යුතු ගුණ දහයක් ඇති බව ප්‍රකාශ කොට තිබේ.

01. උපාසකො සංඝෙන සමානසුඛදුක්ඛො හොති.

බෞද්ධයා සංඝයා හා සමාන සුවදුක් ඇත්තෝ වේ. එසේ වීමට සංඝයාගේ සුවදුක් නිතර සෙවිය යුතුය. පෙර විසූ අනේපිඬු, විශාකා, සුප්පියා ආදී උපාසක උපාසිකාවන් දින පතාම ආරාමයට ගොස් කාමරයක් පාසා පැමිණ සංඝයාගේ සුවදුක් සෙවූ බව ධර්ම ග්‍රන්ථයන්හි සඳහන් වේ. මේ වැදගත් චාරිත්‍රය නිසි ලෙස සිදු නොවීම සංඝයාගේ මෙන්ම ශාසනයාගේ ද පිරිහීමට හේතුවක් වී තිබේ. මෙකල භික්ෂූන්ගේ සුව දුක් සොයන්නෝ දුර්ලභය. බොහෝ දෙනා ආරාමයට යන්නේ තමන්ගේ කටයුත්තක් පිරිමසා ගන්නට විනා සංඝයා ගැන සෙවීමට නොවේ. එහෙයින් බොහො ් භිකෂූන් වහන් ෙස්ලාට තමන්ගේ කටයුතු තමන්ටම පිරිමසා ගැනීමට සිදුවී තිබේ. කෙසේ තමන්ගේ කටයුතු පිරිමසා ගැනීමට යන විට ධර්ම නීති හා විනය නීති අමතක වීම පුදුමයක් නොවේ. එහෙයින් භිකෂු ගුණ දහමින් පිරිහෙති. ඒ හේතුවෙන් ශාසනය ද පිරිහෙයි.

බෞද්ධයන් භික්ෂූන්ගේ සුව දුක් නිතර සොයා බලනවානම් භික්ෂූනට අනියම් මගින් කටයුතු පිරිමසා ගැනීමට සිදු නොවන්නාක් මෙන්ම ගුණදම් දියුණු කැර ගැනීමට ද ලොකු උපකාරයක් වෙයි. භික්ෂූනට වුවමනා සිවුපසය ඒ ඒ වෙලාවට නිසි සේ ලැබීම නිසා කයට මෙන්ම සිතට ද සුව ලැබීමෙන් භාවනාවට පහසු වූ බවත් එයින්ම මාර්ගඵල ලැබූ බවත් මාතික මාතාවන්ගේ කථාවකින් පැහැදිළිව පෙනෙයි. එසේම ශ්‍රද්ධාවන්තයන්ගේ කාරුණික සැලකිළි නිසා “ අනේ, මට මේ තරම් සලකන්නේ ගුණවන්ත කම නිසා නොවේ ද? ඉතින් මම තව තවත් ගුණවත් වියයුතු නො වේදැ යි” සිතා භාවනා කොට රහත් වූවන්ගේ සංඛ්‍යාව ද සුළු නොවන බව බොහෝ චරිත කථාවන්ගෙන් ඔප්පු වෙයි. මේ කරුණු හොඳින් සිතා බලා සංඝයාගේ සුව දුක් සොයා බලා උපස්ථාන කරන්නට සිතටගත යුතු ය. එය තමන්ගේ යුතු කමක් මෙන්ම පින්කමක් ද වන අතර ශාසනයේ දියුණුවට ද ආධාරයක් වෙයි.

02. ධම්මාධිපතෙය්‍යො හොති

බෞද්ධයා ධර්මය අධිපති කොට ඇත්තේ වේ.

“ධම්මං විනා නත්ථි පිතා ච මාතා
තමෙව තාණං සරණං පතිට්ඨා
තස්මාහි භො කිච්චමඤ්ඤං පහාය
සුණාථ! ධාරේථ! චරාථ! ධම්මේ”

“දහම් විනා අන් පියෙකුත් මවක්වත්
නැති ය හේ වේ පිහිටත් රැකීමත්
එයින් ම පින්වත්නි තබා අනෙක් කිස්
අසව්! දරව්! දම් හැසිරෙව්! !! එ දම්හී”

මේ ලෙසින් සලකා බලා ධර්මය ඉගෙන ගන්නටත් ඒ අනුව පිළිපදින්නටත් හැම කටයුත්තක්ම ධර්මානුකූලව කරන්නටත් බෞද්ධයන් විසින්ම ඉටා ගත යුතුය.

03. යථා බලං සංවිභාගරතො හොති

ශක්තිය ඇති පරිදි දන් දී බෙදාගෙන අනුභව කරන්නෙක් වේ. දීම කොපමණ හොඳ උනත් අතිදානය හෙවත් තමාගේ පමණ ඉක්මවා දීම ආගමෙහි වර්ණනා කර නැත. එහෙයින් පින්කම්

සදහා වුවද තමාගේ ප්‍රමාණයට වඩා වියදම් කොට පසුව කණගාටු වන්නට ඉඩ නො තබා තමාගේ ශක්තියේ වත්කමේ පමණට දනුත් දී බෙදාගෙන අනුභව කිරීම බෞද්ධයන් තුළ තිබිය යුතු යහපත් ගුණයකි.

04. ජින සාසන පරිහානිං දිස්වා අභිවුද්ධියා වායමති

බුදු සසුනෙහි පිරිහීම දැක එය නගා සිටුවීමට වෑයම් කෙරෙයි. ලොවට අනන්ත ශාන්තියක් ගෙන දුන්, දැනුත් ගෙන දෙන මතු ද ගෙන දිය හැකි බුද්ධශාසනය රැක ගැනීම හැම බෞද්ධයකුගේ ම යුතු කමෙකි. එය කළ හැක්කේ නොයෙක් තැන හඬ නඟා කීමෙන් නොව බුද්ධ ධර්මය හොඳින් ඉගෙන ඒ අනුව පිළිපැදීමෙන් ය. එක් එක් පුද්ගලයා තමනට අයත් ධර්මය ඉගෙන තමනට අයත් ගුණ දහමින් යුක්ත වූ විට ශාසනයෙහි දියුණුවක් මිස පිරිහීමක් ඇති නොවෙයි. එසේම ශාසනයේ යම්කිසි පිරිහීමේ ලකුණක් දුටහොත් එය නොදන්නා අයට දැන ගන්නට මොරගා කීම නොව එයට පිළියම් කිරීම ම නියම බෞද්ධ ලක්‍ෂණය වේ.

05. සම්මාදිට්ඨිකො හොති අපගතකොතුහල මංගලිකො

පහ වූ කුතුහල මංගල ඇති සම්‍යග් දෘෂ්ටිකයෙක් වේ. නක්ෂත්‍රය හා නිමිති ශාස්ත්‍රාදියෙහි යම්කිසි සත්‍යයක් ඇතත් සුභ නැකතම සුභ නිමිත්තම හැම යහපතට හේතුවේයැ යි විශ්වාස කරතොත් එය මහ මුළාවෙකි. වැරැදි දැකුමෙකි. එබඳු වැරැදි දැකුමෙන් තොරව කර්මය හා කර්මඵලය අදහමින් සම්‍යග්දෘශ්ඨිකව විසිම ද නියම බෞද්ධ ගුණයෙකි.

06. ජීවිතහෙතුපි න අඤ්ඤං සත්ථාරං උද්දිසති

ජීවිතය නිසා වත් අන් ශාස්තෘවරයකු විශ්වාස නොකරයි. නියම බෞද්ධ ගුණය මෙසේ වුවද මෙකල ඇතැම් පිරිමි, ගැහැණුන් නිසාත් ගැහැණු, පිරිමින් නිසාත් තමන්ගේ ආගම වෙනස් කෙරෙති. එය බෞද්ධ කමට පමණක් නොව මනුෂ්‍ය කමට ද කරන බලවත් නින්දාවකි. මෙබඳු මිනිසුන් ලොව නූපන්නා නම් වඩා හොඳ ය යනු ඔවුනට කටයුතු හොඳම මෙත් වැඩුම යි. කවර කරුණක් නිසා හෝ සත්‍ය වූ ධර්මයක් නො අත්හැරීම ද නියම බෞද්ධ ගුණයෙකි.

07. කායිකං වාචසිකං චස්ස රක්ඛිතං හොති

කාය ද්වාරය හා වාග් ද්වාරය ආරක්ෂා කරන ලද්දේ වේ. සංවර කරන ලද්දේ වේ. තමන්ගේ කථා හා ක්‍රියා අන්‍යයනට කරදර නොවන සේ පැවැත්වීම හොඳ බෞද්ධයකුගේ ලක්ෂණයක් මෙන්ම ජන සමාජයට කරන ලොකුම සංග්‍රහයෙකි.

08. සමග්ගාරාමො හොති සමග්ගරතො

සමගියට කැමති වේ. සමගියට ඇලුනේ වේ. සමගිය බුද්ධාගමෙහි උසස් ඉගැන්වීමෙකි. වාද භේද හදාගැනීමේ ආදීනවත්, සමගියෙහි ආනිසංසත් නොයෙක් සූත්‍රවලත් ජාතක කථාවලත් මැනැවින් ප්‍රකාශවී ඇත්තේය. අප අතර පවත්නා නොයෙක් අසමගිකම්වලට ප්‍රධාන හේතුවක් වී තිබෙන්නේ බණ නොදැනීමත් දන්නා බණ අමතක කිරීමත් ය. තව ද ඔවුනොවුන් කෙරෙහි සැක කිරීම හා නොඉවසීමත් අසමගියට හේතුවක්වී තිබේ. මෙසේ අසමගියට ඇති හේතු හොඳින් දැනගෙන ඒවා නැති කොට සමගියෙන් කටයුතු කිරීම නියම බෞද්ධයාගේ ලක්ෂණයෙකි.

09. අනුසූයකො හොති න ච කුහනවසෙන සාසනෙ චරති

ඊර්ෂ්‍යා නො කරන්නේ කුහක සිතින් ශාසනයෙහි නො හැසිරෙන්නේ වේ. කැත අදහස් ඇති මිනිසුන්ගෙන් ලොව හිස් නො වේ. එහෙයින් ඇතැම්හු යම් යම් කටයුතු වලදී තම ප්‍රධානත්වය පතුරුවා ගන්නට සිතා එය කරන අයට පවා ඊර්ෂ්‍යා කරති. ගුණයෙන් හා නුවණින්, ධනයෙන් හා පොහොසත් වන්නවුන් දුටු විට ඊර්ෂ්‍යා කරති. හෙළා දකිති. තවත් සමහරු ශාසනික කටයුතු පවා රට රවටන කුහක අදහසින් කරති. එළිපිට කථා කරන විට ක්‍රියා කරන විට බෝසත්වරු ය. එහෙත් ඇතුළතින් නම් පුහු සත්තු ය. හැම ක්‍රියාවකම හැම කථාවකම පෙන්නීමට නොව සැබෑවට ම විය යුතු ය. ඊර්ෂ්‍යා පරවශ නො වීමත් අවංක ප්‍රතිපත්තියත් නියම බෞද්ධයාගේ ප්‍රධාන ම ගුණ වේ.

10. බුද්ධං සරණං ගතො හොති, ධම්මං සරණං ගතො හොති, සංඝං සරණං ගතො හොති.

බුදුන් දහම් සඟුන් සරණ ගියේ වේ. මෙය නියම බුදුනුවකු තුළ තිබිය යුතු දස වැනි ගුණය සේ දක්වා ඇත.

රසවාහිනී 1965 පොසොන්
ප්‍රඥාප්‍රභා 3

## සිතූ දේ නොම වේ, නොසිතූ දෙයක් වේ

බුදුරදුන් ශාස්තෘන් වහන්සේ කොට අදහන්නෝ බෞද්ධයෝ නම් වෙති. පූර්වයෙහි බෞද්ධ යන නාමය වෙනුවට ව්‍යවහාර කෙළේ උපාසක යන්න ය.

බුදුරජාණන් වහන්සේගේ ධර්මය අසා පැහැදුණු අනාලබ්ධික ක්ෂත්‍රිය බ්‍රාහ්මණාදීන්, “මම භවත් ගෞතමයන් වහන්සේ සරණ යෙමි, ධර්මයද භික්ෂු සංඝයා ද සරණ යෙමි, භවත් ගෞතමයන් වහන්ස, මා උපාසකයෙකැයි දරා ගන්නා සේක්වා, සලකා ගන්නා සේක්වා” යි අයැද සිටියේ තමන් තෙරුවන් සරණ ගිය උපාසකයෙකු ලෙස සලකන්නට ය.

මේ නයින් සලකා බලන විට “උපාසක, උපාසිකා” යනු බෞද්ධ වූ ස්ත්‍රී පුරුෂයනට සුදුසු වූ ද නියම වූ ද නාමයෝ වෙති.

“උපාසකයෙක්- බෞද්ධයෙක් වන්නේ කෙසේදැ” යි අසන ලද ප්‍රශ්නයකට පිළිතුරු වශයෙන් බුදුරජාණන් වහන්සේ මෙසේ වදාළහ.

“යමෙක් බුදුන් සරණ ගියේ ද, දහම් සරණ ගියේ ද, සඟුන් සරණ ගියේ ද මෙපමණෙකින් හෙතෙම උපාසක, බෞද්ධ නම් වේ”. (මහානාම සූත්‍රය)

සැම බෞද්ධයන් තුළ අවිශේෂයෙන් තිබිය යුතු සර්වසාධාරණ ගුණය, වෙන් වශයෙන් ඒ ඒ පුද්ගලයන් තුළ තිබිය යුතු පෞද්ගලික ගුණ යැයි බෞද්ධයන්ගේ ගුණ ධර්ම කොටස් දෙකකට බෙදෙති.

මෙම කුඩා පොත් පිංචෙහි විස්තර වනුයේ සියළු බෞද්ධයන් තුළ තිබිය යුතු ගුණ දහයෙකි. එයට අමතරව ආගමික වෙලාව විස්තර කර ඇත. පුරාණයේ පටන් ම බෞද්ධයෝ ආගමික කටයුතු සඳහා දිනපතා ටික වෙලාවක් යොදා ගත්හ. ඒ තුළින් කායික මානසික සුවපත් බවත් පවුලේ සමගියත් දෙලෝ දියුණුවත් සලසා ගත්හ.

මවුබිම රැක ගැනීම සඳහා ක්‍රියාන්විත රාජකාරියේ යෙදී සිටිය දී හදිසි අනතුරකින් දිවි පිදූ පොලිස් විශේෂ කාර්ය බලකායෙහි සැරයන් එච්. එම්. සුගතපාල තරුණ මහතා මහරගම ධර්මායතනවාසී පණ්ඩිත මහඔය භික්ෂු නමගේ සහෝදරයෙකි. විවිධ අවස්ථාවල සිහිපත් කර පින් අනුමෝදන් කිරීම සිරිතය. අභාවයෙන් වසරක් පිරීම නිමිත්තෙන් මෑණියන් ඇතුළු සහෝදර පිරිස හා සහෝදරිය විසින් ධර්මදානමය පින අපේක්ෂාවෙන් මෙම කුඩා ධර්ම ග්‍රන්ථය මුද්‍රණය කරන ලදී. ධර්මදානමය කුසල් බලයෙන් සුගතපාල තරුණ මහතාට නිවන් සැප ලැබේවා !

සියළු සත්වයෝ සුවපත් වෙත්වා !

මඩිහේ පඤ්ඤාසීහ ස්ථවිර

2541/ 1997-12-01
මහරගම,
සිරි වජිරඤාණ ධර්මායතනයේදී ය.